# අපූරු සමාජයක්

(iskoola pota font එකේ දෝෂයක් නිසා ‘ර්’ අකුර සෑම විටම පසුපසින් ඇති අකුරේ පිටුපසට ගොස් ඇති බව කරුණාවෙන් සළකන්න)

[ අති පූජනීය බළන්ගොඩ ආනන්ද මෛත්‍රෙය නාහිමියන් විසින් ඉතා තරුණ අවධියේ ලියන ලද මෙම ලිපිය එදාට සේම අදටත් එකසේම ගැලපෙයි. විචිත්‍ර උපමා හා රූපක ඇසුරෙන් උන්වහන්සේ ප්‍රකාශ කරන්නේ වත්මන් ශාසනයේ ඇතිවී තිබෙන පරිහානියයි. මෙහි ‘අපූරු සමාජය’ නම් භික්ෂු සමාජයයි. ප්‍රතිපත්තියෙන් බැහැරව පැවිදි-ගිහි දෙපිරිසම අද යෙදී සිටින ආමිස පූජා ලෙස හඳුන්වන නිසරු, කිසිදු ප්‍රයෝජනයක් නැති, මුදල් විනාශ කරන යාග-හෝම හා පුදපූජා විධිද මෙහි විවේචනයට ලක් වී ඇත. කන්න බොන්න නැති මිනිසුන් සිටින මේ රටේ බුද්ධ පූජා ලෙස දිනපතා ආහාර ටොන් ගණනක් විනාශ කර දමන්නේ, බල්ලන් රිළවුන් බෝ කරවීමට යොදවන්නේ මෝඩකමට මිස වෙන කවර කරුණක් නිසාද? චෛත්‍ය ඉදිරිපිට පළතුරු කඳු ගොඩ ගැසීමත්, පහන් අසුභාරදාගේ පූජා ආදියට පොල්තෙල් බැරල් ගණන් පුළුස්සා දැමීමත්, ‘කප්රුක් පූජාව’ නමින් කෙරෙන චෛත්‍ය වලට රෙදි ඇන්දීමත් තවත් එවැනිම ක්‍රියාය. එම රෙදි සුදුසු සේ කැබලි කර දුප්පත් මිනිසුන්ට ඇඳුම් මසා ගැනීමට ලබා දෙන්නේ නම් එය කෙතරම් මහත්ඵල මහානිසංස කුසල ක්‍රියාවක්ද? ඉහත කී බොරු වැඩවලට ආවඩන හාමුදුරුවරුන්ගේ ද අඩුවක් නම් නැත. ඊට හේතු දෙකකි. එකක් නම් ඔවුන්ගේ අවංක නොදැනුවත්කමයි. දෙවැනි හේතුව නම් ඍජුව හෝ වක්‍රව තමුන්ගේ මඩි තර කර ගැනීමට හැකිවීමයි. පහන් පත්තු කිරීමෙන් ප්‍රඥාව ලැබෙන බව ඔවුන් ප්‍රකාශ කරනු ඇත. නමුත් එවැනි ඉගැන්වීම් බුද්ධදේශනාවල නම් නැත. ප්‍රඥාව වැඩීම සඳහා කළ යුතු වන්නේ දහම් සාකච්ඡාවල යෙදීම (ම.නි. චූළකම්මවිභංග සූත්‍රය) හා දහම් දැනුම වැඩි කර ගැනීමයි (ආළවක සූත්‍රය). තමුන්ගේ ශ්‍රද්ධාව භක්තිය ප්‍රකාශ කිරීම සඳහා පහනක් පත්තු කිරීමේ වරදක් නැත. වරද වන්නේ නාස්තිකාර ලෙස එය මහා පරිමාණව කිරීමත්, එයින් ප්‍රඥාව ලැබෙනවා වැනි මිථ්‍යාදෘෂ්ටියක් ප්‍රචලිත කිරීමත්ය. බුරුම ජාතිකයන්ද බුද්ධ පූජාව තබති. නමුත් ඔවුන් බත් ඇටයක්වත් අපතේ දමන්නේ නැත. ඔවුහු බුද්ධ පූජාව තැබීමෙන් පැය භාගයකට පමණ පසුව ගෞරවයෙන් එය ඉවත් කොට තමුන්ම ආහාරයට ගනිති. නාස්තියක් සිදුවන්නේ නැත. එලෙස බුද්ධ පූජාව තැබීමේ දෝෂයක් නැත. වාසනාවකට ‘බුද්ධ පූජාව ආහාරයට ගැනීමෙන් පව් සිද්ධ වෙනවාය, දිව්‍ය ඕජාව බහා ඇති බැවින් ආහාරයට ගැනීම නුසුදුසුය’ ආදී මෝඩ කතා කියන හාමුදුරුවරු බුරුමයේ නැත. පන්සල් ආරණ්‍ය ආදියේ සිදුකරන අවසානයක් නොමැති ඉදිකිරීම් බෞද්ධයන්ගේ දුප්පත්කමට එක් හේතුවක් බවද අවසානයට කිව යුතුව ඇත. -චනරතන ඛේමක හිමි ]

දිගු පුළුල මෙතෙකැයි පමණ කළ නොහැකි තරම් විශාල වූ මහා වනයෙකි. කිසි තැනක කුඩා එළිමහනක් ඇතත් එහි ඉතා වැඩිම කොටස ගණ අතු පතරින් සංඡන්න මහා රුක් සමූහයන්ගෙන් ගැවසී ගත්තේය. උහු වූ කලී විෂ රුක් කෙනෙකි. එහි වූ පුෂ්පයන්ගේ සුවඳ ආඝ්‍රාණය කරන්නකු මත්ව දැඩි නින්දකට වැටෙති. පත්‍ර හා ඵල වනයෙහි මංමුලාව මෙන් ඇවිදුනා ජනයාගේ භෝජනයයි. ඒ වැළඳුවහු වහා ක්ලාන්තව වැටී සිහි මුලායෙන් මඳ වෙලාවක් හෝනාහු වෙති. එකෙනෙහිම අවසරයක් බලමින්, නිතර ඉව කරමින් තැන තැන සැඟවී සිටින දිවි වග වලස් ආදී නපුරු සිවුපාවුන්ගෙන් කිසි කෙනෙක් නිදා ඉන්නවුන්ගේ ඇගෙන් මස් කැබලි කඩා කති. සෑම තැනම පාහේ බිම්ගුල්වල සැඟවී ඉන්නා එක්තරා වගර්යක සපර්යො හෝ අවුත් ඔවුන්ගේ ශරීර විද ලේ උරා බොති. මෙයින් වහා පිබිදුනෝ ඉක්මනින් පිළියමක් කර තාවකාලික සනීපයක් ලබති. ඇතැම් කෙනෙක් විෂවේග විකාරයෙන් දුවපැන ඇවිදුනාහු ප්‍රපාත මඩවගුරු ආදීන්හි වැටී දරුණු දුක් පීඩා විඳිති.

මේ කරදර වලට හේතුවක් වූ ක්ලාන්ත බව නොමැති වන පරිදි ඒ ඵල-පත්‍රාදිය වැළඳීම බැරි නොවේ. ඒ වනාහි වනයෙහි සියලු තැනම පාහේ වැවී ඇති කුඩා ඖෂධ පැළෑටි විශේෂයක් වැළඳීමයි. එහෙත් විෂඵලාදියගේ රසයටම පුරුදු ගිජු වූ අන්ධ බාල ජනයෝ යට කී ඖෂධ වැළඳීමට මැලි වෙති. මෙහෙයින් බෙහෙවින් මත් වෙමින් දුක් විඳ විඳ එහි කල් යවති.

දීඝර් කාලයක් කරදර ගැහැට විඳීමෙන් වනයේ බිහිසුණු බව තරමක් අත්දුටු එක් ධෛයර්වත් පුරුෂයෙක් යට කී ඖෂධ නිතර පාවිච්චි කරමින් තමා මත් විය නොදී සිහිය හැකිතාක් රැකගෙන ගත් ආයුධ ඇතිව චණ්ඩ සිවුපාවුන්ගෙනුත්, විසකුරු සපර්යන්ගෙනුත් උපද්‍රව නැති ක්ෂේම භූමියක් සොයා ඇවිදින්ට වනි.

නොයෙක් අත්හදා බැලීම් කර කර දීඝර් කාලයක් වෙනෙහි ඒ මේ අත බලා ඇවිදිනා හෙතෙම බොජුන් ඕනෑ වූ කිසි විටෙක සමීප වෘක්ෂයක විෂඵල පත්‍ර පමණක් කා යට කී ඖෂධ අමතක වී ක්ලාන්ත ව වැටී හෝනේය. නින්දෙන් අවදිව සිරුර ලේ සපර්යන් විසින් උරා බොන ලද බව දැන ඒ භෝජනයාගේ දොස් සලකා ටික කලක් කිසි බොජුනක් නොගෙන අමාරුවෙන් කල් යවයි. එයින් වඩාත් කෘෂ ව ශක්ති හීන ව සමීපස්ථ ව්‍යාඝ්‍රාදීන්ට ගොදුරු වන තරමට ලංව එතැනින් නැගීගත නොහැකිව ගැහැට විඳී. යළි කාරණය තේරුම්ගෙන ඖෂධත් සමඟ යථෝක්ත ඵලපත්‍ර බොජුන් වශයෙන් ගෙන තරමක් ශක්තිමත්ව ගමන ආරම්භ කරයි.

විටින් විට නානා කරදර වලට මූණ පාමින් නොපසුබට උත්සාහයෙන් ක්ෂේම භූමියක් සොයා ඇවිදිනා හෙතෙම ගස් අතුරෙන් ඉතා ඈත එළිමහන් බිමක් දැක ඒ අතට දිව ගියේය. එහෙත් එයද සිංහ ව්‍යාඝ්‍ර සපර්‍රාදීන්ගෙන් අනූන ය. කැලෑබද ගතිය මඳක් අඩු බව පමණක් එහි විශේෂයකි. මේ එළිමහන් බිමේ ඔබ මොබ ඇවිද යන්නේ ඈත එක් උස් බිමක් දුටුයේය. තමාට හමු වූ කීප දෙනෙකුන් ගෙන් ඒ ඈත පෙනෙන්නේ කිමෙක්දැයි ඇසුවේය. ඒ පැත්තේ කිසි උපද්‍රව නැති සැප ඇති රටක් ඇත්තේ යැයි මහජනයා අතර කතාවක් ඇති බව හේ කීය.

අප වීර තෙම මෙය පරීක්ෂා කළ යුතුය සිතා ඒ අතට ඉක්මන් කොට ගියේය. ඒ මාගර්යෙහි ඉදිරියට යත් යත් කයට වඩ වඩා පහසුවක් ඔහුට දැනුනේය. චණ්ඩ සිවුපාවුන් හිඟ බව ද හැඟුණේ නොබෝ වෙලාවකින් හේ කුඩා හෙල්බිමකට නැගී ගත්තේය. ඒ තාක් පසුකර ආ මාගර්යෙහි හෝ ඉන් මොබ වූ එළිමහන් බිමේ හෝ ඉනුත් මොබ වූ වනයෙහි සිට බලන්නෙකුට නම් දැන් ඔහු පැමිණි හෙල්මුදුන කුමක්දැයි නොපැහැදිලිය. එහෙත් මෙකී හෙළ මුදුනට පැමිණියකුට ඉන් ඔබ්බෙහි කදිම මාවතක්ද ඉන් එපිට වණර්නා විෂයාතික්‍රාන්ත අප්‍රමේය කාන්ත ආලෝකයෙක් ද පෙනේ.

අප ගමන්කරු තෙම එය දුටුයේය. එය ඉලක්ක කොට ගෙන ඉතිරි මාගර්යෙන් ගමන් ගත්තේ වැඩිවෙලා යන්ට පෙර කලින් පැමිණි හෙළටත් වඩා විශාල රම්‍ය සුවපහසු ඇති හෙළකට පැමිණියේය. එහි සිට බැලුයේ, තවම තමාට ඈත ආලෝකය පෙනෙන බවත්, බොහෝ දුරට තමාට සනීප ලැබුණ බවත්, මේ මඟ ඔස්සේ යත් යත්ම වඩ වඩා සනීප ම ලැබෙන බවත් සිය අත්දැකීමෙන්ම දැන ගත්තේය. ඒ මාගර්යද ගත කොට තෙවැනි හෙළකට පැමිණියේය. මෙහි ශාන්ත භාවයත්, ලත් සනීපයත් පමණ කළ නොහැකි තරම්ය. මේ තාක් ඉලක්ක කොටගත් ආලෝකය හැම තැන පැතිර ඒකාලෝක වූ විශාල උස්බිම ඉතාම ලංව පෙනුණේය. එයට යා යුතු මාගර්යද දැක එමගින් ගියේ ආලෝකවත් උස් බිමට ලංවී ය. එකෙනෙහි ලත් පහසුව නින්හිම් කළ නොහැක.

වෙනත් මගක් නැති බවත්, මේ මාගර්යේ කෙළවරට තමා පැමිණි බවත් ඔහුට ප්‍රත්‍යක්ෂ විය.

අප වීරතෙම තමා දෙස බැලී. සියලු ශරීරගත පීඩා දුරුවී ගිය බව ද, එතෙක් ක්‍රමයෙන් ගෙවෙමින් පැවැති විටින්විට ඇතිවන සිහි මුලා ගතිය දැන් සහමුලින්ම දුරුව තමා සුවපත් වූ බව ද, දැන් තමා එහි වූ කාන්ත ආලෝකයෙහි ගිලී සුඛිතව ඉන්නා බවද දුටුයේය. ඒ ආලෝකය තමා හාත්පස පමණක් නොව ශරීරය ඇතුලටද විනිවිද යමින් සම් ලේ මස් නහර ඇට ඇටමිදුළු ආදී සියල්ලෙහි කාවැදී ශරීරගත සියලු බර ගතිය, දුවර්ල ගතිය, ස්වල්පයෙන් වෙහෙසෙන සුළු ගතිය ආදී හැම දෝෂ පලවා හැර ඒතාක් තමා නොසිතූ නොඇසූ කිසිවකු විසින් වචනයෙන් අනෙකකුට අවබෝධ කරවිය නොහැකි වූ අග්‍රගණ්‍ය අප්‍රමේය අනන්ත සුව පහසුව ලත් බවද ඔහුට දැනුණේය.

සියලු ශරීරය ශුද්ධව සුවව ප්‍රභාස්වර වූයෙන් එතුමාගේ දශර්න ශක්තිය සියළු පදාථර් දැකීමට තරම් වැඩී ගියේය. මෙසේ මේ රූ දශර්න ශක්තිය ඇත්තේ ආ මාගර්ය දෙස බැලුවේය. තමා දැන් ඉන්නා තත්ත්වයත් සැලකුයේය.

උක්ත පරිදි සුවපත්ව අභිමතාථර් සංසිද්ද්ධයෙන් පිනා ගොස් සුව විඳිමින් සති කිහිපයක් හෙතෙම ඒ කඳු මුදුනෙහිම ගත කළේය. ඉක්බිති ඈත වන ප්‍රදේශය බලා, ලත් ජව බලයෙන් හා අපවර් ඍධියෙන් යුක්ත බැවින් ක්ෂණයකින් එහි ගොස් ඒ වනවාසීන්ට තමා ආ මාගර්ය පෙන්වමින් එහි ගමන සැලැස්වීමෙහි යෙදුණේය. බොහෝ ජනයෝ ඒ මාගර්යෙහි ගියහ. ගොස් යට කී ක්ෂේම භූමියට වැද සුවපත් වූහ

ඉක්බිති ඒ වීරවර තෙම මතු පැමිණෙනවුන්ගේ පහසුව පතා පළමු කී මහ වනයෙහි එළිමහන් පෙදෙසක විශාල උස් කණුවක් හිඳුවා එහි යට කී ක්ෂේම මාගර්යට එල්ල කොට අත්සටහනක් සහිත ලෑල්ලක් ද සවි කළේය. ඒ ලෑල්ලෙහි 'මාගර්' යන්නද, එහි යා යුතු සැටි ද, එහි යාමේදී පිළිවෙළින් හමුවන මං ලකුණු ද සඳහන් කළේය. ඒ මහා ස්ථම්භය ළඟ විශාල ශාලාවක්ද කරවීය. ඒ කුමක් පිණිස ද යත්: වෙනෙහි වෙහෙසී අවුත් ඒ මහ බස්නැට රිසි අයට ශාලාවට වී ටිකක් විඩා හැර ගමනට සැරසෙමින් පහසු ගැනීමටය.

මේ සියල්ල නිසි සේ පිළියෙල කොට තබා මතු මතු එමඟ ගොස් ක්ෂේම භූමියට පැමිණෙන්නන්ටත් ඒ පැමිණීම සඳහා යථෝක්ත මාගර් දේශක ස්ථම්භය අසල ශාලායෙහි ටික දිනක් නැවතී ගමන යාමට ලැස්ති වන්නන්ටත් ඒ ස්ථම්භය රැක ගැනීම හා එය මගින් හැකිතාක් ජනයා ක්ෂේම මාගර්යට පමුණුවාලීමේ මෙහෙය භාර කළේය. ඉන්පසු හෙතෙම ඒතාක් තමා ස්පශර් කරමින් සිටි යම් ආලෝකයෙක් වීද, ඒ ආලෝක ස්වභාවයටම හැරුණේය. මේ අවස්ථාවෙහි එක් විශේෂ සිද්ධියක් විය. එනම් වනයේදී හැදුන, වනයේම එළාදී වැළඳීමෙන් වැඩුණ, වනයේම ස්වභාවයක් වූ කැඩෙන බිඳෙන ගති ඇති ශරීර හපය ඒ වීර පුරුෂයා මහජනයා ඉදිරියේම යතෝක්ත ශාලායෙහිදී හැර දැමීමයි.

පශ්චිම ජනයා කෙරේ මහා අනුකම්පාවෙන් ක්‍රියාකළ ඒ මාගර්දේශක වීරවරයාට ගෞරව වශයෙන් කෘතඥතා දැක්වීම් වශයෙන් යට කී ශාලාවෙහි රැස්වූ ද අසල සිටියා වූද බොහෝ ජනයෝ එක්ව සිය සිරිත් පරිදි එය දවා, හුණු වී ගිය ශරීර කොටස් ගෙන මහඟු සොහොන් කොත් කිහිපයක් බැන්ද වූහ.

එතැන් පටන් ඒ මහ යන්නෝ ඒ සොහොන් චෛත්‍ය දුටු කෙනෙහි මාගර් දේශක ඇදුරා සිහිකොට ගුණ සලකා හිස නමා ආචාර කරත්, මාගර් දේශක ස්ථම්භයේ සඳහන් කරුණු කියවා ඊට ද හිස නමා එයින් දැක්වෙන දිගට මුහුණලා ගමනාරම්භ කෙරෙත්. ඒ මග යාමට තමන් මෙහෙයූ යට කී ශාලාවෙහි ඉඳ මහට බැස යන හෝ නික්ම ගිය ආචාර්යවරයන්ගේ නාමයන්ට පවා ගෞරව කරත්.

පසු කලෙක යට කී මාගර් දේශක ආදිම වීර පුරුෂයා සිහිවීමට යැයි කියා එතුමා ගැන දන්න වුන්ගේ අදහසට අනුව එතුමාගේ රූපයද තැනවූහ. ඒ මග යන්නෝ ඒ දුටු කෙනෙහි නමස්කාර නොකර නොයත්.

යථොක්ත ශාලාවෙහි රැස්වන ජනයාගේ දෙවැදෑරුම් කටයුත්තක් විය. කෙනෙක් ටික දිනක් විවේක ගෙන ශක්තිමත්ව ස්ථම්භයෙන් දැක්වෙන මහ ඔස්සේ ම යත්. කෙනෙක් එහි හිඳ හාත්පස කැලෑයෙහි මුලාව යන්නන් කැඳවමින් ඔවුන්ගේ මත්වීමට හේතුවන විෂඵල භෝජනයගේ දෝෂ දක්වමින් ඊට සුදුසු ඖෂධ පාවිච්චියගේ අගය කියා දෙමින් ඔවුන් ස්වශාලාවට කැඳවා මාගර්යේ යාමට උනන්දු කරවති. තුමූ මහත් පිරිසක් කැටුව ඒ ගමන යාමට සුදුසු පරිදි පිළියෙල වෙති. මේ වනාභි ශාලායෙහි ඉන්නා පිරිස විසින් කළ යුතු කෘත්‍ය දෙකය.

කලක් ගත විය. ශාලායෙහි පිරිස ඉතා මහත් විය. එය මහා සමාජයෙකි. එහි පිටත් සාමාජිකයෝ වනයේ ඉතා ඈත ප්‍රදේශවල පවා වූහ. යට කී ක්ෂේම මාගර්යේ යන්නෝ ක්‍රමයෙන් ගණනින් අඩු වූහ. එගමන යාමට මහජනයා උනන්දු කරවන්නොත් ස්වල්ප වූහ.

තවත් කලක් ගතවිය. දැන් එහි තත්ත්වය බොහෝ දුරට වෙනස්ය. එහි තතු දන්නෙක් ශාලාව සමීපයට ගියේ නම්, මාගර් දශර්ක ස්ථම්භය ළංව පරීක්ෂා කර බලා නම් බලවත් ඛේදයට පත්වේ. ශෝක සංවේග වේගය විසින් නංවන ලද ඔහුගේ විතකර් විෂ්පාර ශබ්දය බලවත්ව වාග්ද්වාරයෙන් නික්මෙනුයේ අහෝ! යන දුක් මුසු හඬක් පහළ කෙරෙමිනි. හේ බොහෝ වෙලා සුසුම්ලයි: 'අහෝ මාගර්ය! අහෝ මහාගර් ස්ථම්භය!! අහෝ රම්‍ය ශාලාව!!!' යැයි කියමින් කඳුළු වගුරුවයි. මීට හේතුව ඔහු ඉදිරියේ වූ අමුතු දශර්නයෙකි; අපූරු නාඩගමකි. හෙතෙම මේ පෙරළිය කෙසේ වීදැයි පරීක්ෂා කර බලයි. ඒ සිදුවූ සැටිත් තේරුම් ගනී.

ඒ ස්ථම්භය පිහිට වූ වීරවරයා විසින් එහි මත්තෙහි සවිකල ලෑල්ලේ ලියවූ දෑ දැන් නිසි ලෙස කියවා ගන්ට බැරිවන තරමට විසුළු කර තිබේ. මීට ගෞරව කරම්හ, මෙය ශොභා සම්පන්න කරම්හ යි කියා කෙනෙක් අවුත් ඒ ලෑල්ලෙහි වූ සෑම අකුරක් වටේට වණර්වත් රේඛා ඇන්දාහ. කෙනෙක් ඒ අතර තුර මල් සිතියම් කළහ. තවත් කෙනෙක් සෑම අකුරක්ම ත්‍රිකෝණ, චතුස්කෝණ, පඤ්චකෝණ, ෂට්කෝණ චිත්‍රාවලින්ගෙන් වැසූහ. තවත් ලෑලි කැබලි වටේට ගසා නානාවණර්වත් සිතියම් ඇන්දහ. ඒ වනයෙහි ඇතැයි විශ්වාස කළ නානාසත්ත්ව වගර්, නදී පවර්ත වෘක්ෂලතාදීන්ගේ සිතියමින් එය පිරවූහ.

මෙපමණක් ද? නැත, එය හාත්පස පේන තෙක් මානෙ අර ආදීම වීරවරයාගේත් තදනුගාමීන්ගේත් රූපයයි කියා නා නා විධ උස මහතින් යුත් එකකට එකක් නො පරදින සේ රම්‍ය ලෙස නොයෙක් දෙනා ලවා කරවන ලද ශිලා කාෂ්ට මෘතතිකාදීමය වූ ප්‍රතිමාවන්ගෙන් යුත් සිය දහස් ගණන් ගොඩනැගිලි කරවූහ. මේ සියල්ලම අයිති යට කී සමාජයේ සම්පාදක මණ්ඩලය වශයෙන් පෙනී සිටින අර මහා ශාලාභූමියේ පදිංචි අයටය. මේ සම්පාදක මණ්ඩලයේ අය මුලදී මාගර් දේශක ආදීම පුරුෂයා අනුව ගියවුන්ගේ පරම්පරාගතයෝමය. එහෙත් ගතිගුණ වලින් ඒ පූවර් පුරුෂයන්ට ඉතාම ඈත්ය. මාගර්ගාමී වූ ද මාගර් දේශක වූ ද පිරිසක් යැයි හඟවමින් ඔවුහු කපුකම් කරති. ඔවුහු එක්තරා විශේෂ වගර්යක කපුරාලවරුය. පිටත් සමාජික පිරිසෙන් නිතර ලැබෙන සත්කාරයෙන් කුල්මත් වූ මේ අපූරු සම්පාදකයෝ ෙඑස්වයර්ාමදාදියෙන් මත් වූවහු කැඩී බිඳී කොටස් වූහ.

එක් එක් කොටසෙහි වූවෝ අන් කොටස් වලට නානාවිධ දෝෂ නගමින් හැකිතාක් සමාජික පිරිස සිය කොටසට වැඩිකර ගැනීමට දිවා රෑ දෙක්හිම උපක්‍රම යොදති. නියම මඟ යාම යැයි තුමූත් මුලාවූවාහු අනුවරයනුත් මුලා කරන්නාහු සිය කොටසේ පරපුර දියුණු කිරීමෙහි සිය සාමාජිකයනුත් යොදවත්.

එම පිරිස් තව තවත් කුඩා කොටස්වලට කඩාගෙන එහි අධිපති වීමට යමක් කමක් පුළුවන් වෙනකොටම කාගෙත් පාහේ බලාපොරොත්තුවයි. මෙබඳු ක්‍රියාවලට නොයෙක් විට ඒ කොටස්වල ප්‍රධාන අයගේ ආත්මම්භරි බවත් දුෂ්ට කමුත් ඊෂ්‍යාර් සහගත නානා නීච කමුත් හේතුහු වෙති.

මෙසේ කල් ගෙවන ඔවුන්ගේ ප්‍රධාන මෙහෙය කුමක් ද? කෙනෙක් යට කී ස්ථම්බයේ සැරසිලි වල සැටි බෙද බෙදා කියති, කියවති. තව කෙනෙක් ඒ කණුවේ සඳහන් දැයින් ටිකක් කොළ කැබලි වලට පිටපත් කොට ගෙන ගොස් ඒවා ඇතුලත් කොට රූප තනවති. සොහොන් කොත් වැනි විශාල ගොඩනැගිලි කරති, කරවති. අර ස්ථම්බයත් ශිලා රූපාදියත් වටේ දහස් ගණන් භෝජන භාජන පුදති, පුදවති. මේ කුමකට දැයි යමකු ඇසුවොත්, ක්ෂේම භූමියට යැවෙන්නට හෝ යවන්නට මගක් පෑදෙන්නට යැයි ඔවුහු කියති. කෙනෙක් යට කී කණුව වටේ අසූහාරදාස් ගණන් පහන් දල්වති. මේ කුමටද? අර ක්ෂේම භූමියට යාම පුළුවන් වෙන්ටය. තවද ඝණ්ටා ගසති ගසවති, බෙර ආදිය වයති වයවති. මේ කුමටද? අර ක්ෂේම භූමියට යැවෙන්ටය.

මාගර් දශර්ක ස්ථම්භය වටා වැඳ වැටී වැටී මුළු කාලය ගත කරති. මේ කුමට ද? ක්ෂේම භූමියට යැවෙන්ට! මෙබඳු තවත් නොයෙක් දෑ කරති. මේ හැම එකෙන් ඔවුන්ගේ පැතිල්ල 'ක්ෂේම භූමියට යන්ට හැකිවේවා!' යනු යි. මාගර්යෙහි යාමෙන්ම විනා මල් ආදිය පුද පුදා සිටි පමණින් ක්ෂේම භූමියට යා නොහැකි බව ඔවුහු නොසිතති.

මේ සමාජය හැර තවත් ක්ෂේම භූමියට මග පාදන සමාජයෝ තැන තැන වෙති. ඔවුන් කරන කරන දේ ද මේ යට කී සමාජයේ කපුවරු තමන්ට හුරු කර ගනිති. කොහේවත් නැති පුද්ගල විශේෂයකගේ විකාර රූප ස්වීය පූජාස්ථානයන්හි අඹවති. මේවා කළ යුතු බව අර ස්ථම්භයේ සටහන් සිතියම් වලින් ඔප්පු කරති.

මෙහි කී සමාජයේ තවත් නානා නාම වලින් යුත් නොයෙක් සමාජවලත් නොයෙක් ඇඳුමින් හා අඩයාලමින් සැරසී සිටින කපුවරුන් වැඩි කොටසක්ම කීම මිස ක්ෂේම භූමියට ගමන නම් නොකරයි. මෙහි කපු නාමයෙන් දැක්වෙන්නෝ නිසි යුතුකම් නොකොට තොවිල් කපු කම්මන්ත්‍රයන් කරන්නෝ යි. කපුරාල වරුන්ට බොජුන් පැවරීමට මන්ත්‍රයකි. එය වෙන වෙන කොටසට වෙනම ජප කළ යුතුයි. ඒ ජපය නොකළොත් කැප නොවේ. වාද විවාද ඉන් නොහටගැනුනොත් අමනාප නම් නොමැති නොවේ.

එකම වෘත සමාදානය එක එක කොටසින් වෙන වෙනම කර විය යුතුය. මාගර් දේශකයා මාගර්යේ යන්නහු මෙසේ මෙසේ විය යුතු යැයි දක්වා යථෝක්ත කණුවේ සටහන් කරවූ දැයින් ස්වල්පයක් කවච හෝ මන්ත්‍ර මෙන් ගෙන තැන තැන නිසි අවස්ථාවන්හි ජප කරති. නොයෙක් ශබ්ද නගා ඒ දපති. ඉන් කිසිවක් බේබද්දන්ගේ කලහ ඉඩමකින් ඇසෙන හඬ බඳු හඬින් කෑ ගසා කියති.

මේත් අර ක්ෂේම මාගර්යේ යාම ලේසි වෙන්ට! යට කී මාගර් දේශකයාගේ රූපයට පෙර ආචාර කළෝ, ගෞරව කළෝ විශේෂ තේරුමක් උඩය. එහෙත් ඒ නිසි වන්දනා මානය දැන් යාග හෝම පංතියකට හුරු කරගත්හ. එ ශිලාමය රූපාදියට මල් පුදන්ට මන්ත්‍රයෙකි. මෙය අවශ්‍යම වූ ප්‍රධාන වැඩක් හැටියට කපුරාළවරු උගන්වති. සුවඳ දුම් පුදට මන්ත්‍රයෙකි. එළිය පත්තු කිරීමට තවත් මන්ත්‍රයෙකි. බොජුන් පුදටත් මන්ත්‍රයෙකි. පැන් පිදීමටත් අන් මන්ත්‍රයෙකි. ගසින් නෙලූ මල් පිදීමට මන්ත්‍රයෙකි. ගසෙන් නොනෙලූ, ගසෙහි ම වූ මල් පුදට මන්ත්‍රයෙකි. බුලත් පුදටත් මන්ත්‍රයෙකි. ඝණ්ටා ගැසීමට එක් මන්ත්‍රයෙකි. කොඩි බැඳීමටත් කෙනෙක් මන්ත්‍ර සොයති. දුම්කොළ පුදට

මන්ත්‍රයක් තවම නොබැඳ ගත්හ. බුලත් එක්කම පුදන බැවිනැයි සිතමි. සුරුට්ටු සිගරට් පිදුම තව ම නොපටන් ගත්හ. එය පටන්ගත් විට ඊට ද යට කී කපුවරුන් අතුරෙහි වූ අර මාගර් දශර්ක ස්ථම්භයේ සිතියම් වණන්ටත්, ඉරි ගණන් කරන්ටත්, එබඳු තවත් වැඩවල යෙදෙන්ටත් උගත් අය මන්ත්‍ර බඳිනු නිසැකයි.

තවත් මොවුන්ගේ යාග හෝමයට සම්පූණර් විය යුතු දෑ ඇත්තේය. එනම් ඒ කණුව අසලත්, මීදුල් හා පාරවල් අතුගාන විට ජප කරන්ට මන්ත්‍ර ද, ගොඩනැගිලිවල කැඩුම් බිඳුම් ප්‍රකෘතිමත් කරන විට ජප කරන්ට මන්ත්‍රද, මකුළුදැල් කඩන විට දපන්ට මන්ත්‍රද, බිත්ති වල සුදුහුණු ගාන විට කියන්ට මන්ත්‍ර දැයි මේ ආදී කුඩු මහත් නෘත්‍ය වලට මන්ත්‍ර බැඳීමය. මේ අඩුපාඩුව පුරවන්ටත් යට කී පරිදි වූ උගතුන් ඉදිරිපත් වනු නිසැක යි.

දැන් ඔවුන්ට එක් එක් ප්‍රසිද්ධ ගොඩනැගිල්ලට වඳින විට ජප කරන්නට වෙන වෙනම මන්ත්‍ර ඇත්තේය.

යථොක්ත ස්ථම්භයෙන් දැක්වූ මග යන්නෝ විරල වූහ. පෙර එයින් ගත් ප්‍රයෝජනය ඉන් දැක්වෙන මාගර්යේ යාමය. දැන් එය මුලට වී 'මාගර්ය මාගර්ය'යැයි මන්ත්‍ර ජප කරමින් එහි දපති. යාගහෝම කරති. ඇටවැල් ගණන් කරති. සෑම ගොඩනැගිල්ලක් අසල පඬුරු පෙට්ටි වෙති. එහි පඬුරු ලෑ යුතුයි. ඒවා කුමටද? අර මාගර්යේ යාම පුළුවන් වීම පිණිස ඉහත කී ගොඩනැගිලි ලොකු කර හෝ ප්‍රකෘතිමත් කර ටිකට් ලබා ගන්!

කපුවන් සේ ක්‍රියා ක්‍රියා කරන අපූරු මාගර් දේශකයන් වෙතට යට කී කැලෑවෙන් මිදෙනු රිසියෝ පැමිණෙති. තමන් අදහස දන්වති. එවිට ඔවුහු සිය සමාජයේ මුද්‍රායෙන් ඔවුන් පිට හම්වඩු ගැසිය යුතු බව තරයේ කියති. සාමාජික විය යුතු බවද කියති. මාගර්යේ යනු රිස්ස බලවත් බැවින් ඔවුහු ඊට අවනත වෙති. තවත් කුමක් කළ යුතු දැයි ඇසූ කල යට දැක්වූ මන්ත්‍රත් යාග හෝම විදිත් පුහුණු කළ යුතු බව ව්‍යාජ මාගර්දේශකයෝ කියා පාති. මොවුහු අපූරු වූ තාකර්කයෝ ය. සිය මතය යට කී කණුවේ ඇඳ තිබෙන සිතුවම් විස්තර කරමින් ඔප්පු කිරීමේ ගජ හපන්නුය. තවත් කුමක් කළ යුතුදැයි ඇසූවිට මේ සමාජයේ රෙකුලාසි පොතේ තිබෙන ඒවාට අනුව මේ ස්ථානයේ ගොඩනැගිලි භාරගෙන යාග හෝම සෙස්සන් ලවා ද කරවමින් පරම්පරාව දියුණු කළ යුතු යැයි කියති. සිත් අදනා සුළු නොයෙක් සැරසිල්ලෙන් යුත් ගොඩනැගිලි ද එහි වූ ලොකු පඬුරු පෙට්ටි ද පෙන්වා ඔවුන් මුලාවේ හෙළති.

මාගර්යේ යාමේ ආශාවෙන් ඇතුල් වූ අන් පුරුෂයෝ මෙයින් මාගර්යේ යාමක් කෙසේ වේදැයි අසති.

එවිට ව්‍යාජ මාගර් දේශකයෝ 'නුඹ පිස්සෙක් වෙන්ට සැදෙන්නෙහිදැ!'යි නිග්‍රහ කරති. 'ඒ මාගර්යේ ගියේ ඉස්සර! දැන් යන කාලය ගතවී බොහොම කල්! මතු කාලයක කෙනෙක් එන්නාහ. ඒ තැනැත්තා අවුත් මාගර්යේ අප යවන්නේය. ඔහු එනතුරු දැන් තිබෙන රාජකාරිය ගොඩනැගිලි රැස රැක ගැනීමය. මේ කණුව වටේත්, මේවා වටේත් මන්ත්‍ර කියමින් පාන් පත්තු කර කර ඉඳීම කල යුතු වැඩේ'යැයි කියති. ශාලාවේ වැසි කපු කමට නොබැස්ස යහපත් අදහස් ඇති සමහරු වනයෙහි ඇවිද යා යුතු මඟ පෙන්වන්නට නොයෙක් අයුරින් තැත් කරති.

මෙසේ මාගර්යේ යන්ට රිසි වූවන් ද මුළායෙහි ලා ඔවුන්ගේ බලාපොරොත්තු සිඳ දමා නතර කර, පිටත් සාමාජිකයන්ගේ වන්දන මානන ලාභ සත්කාර වැඩිවන මං යොද යොදා ඒ හාත්පස රුක්හි විෂඵල බුදිමින් තැන තැන මත්ව වැටෙමින් සිංහ ව්‍යාග්‍රාදීන් විසින් කඩාකනු ලබන පිටුමස් ඇතිව, ලේ උරා බොන සපර්යන්ගෙන් ද පීඩා ලැබ ලැබ ඉඳහිටලා ඊට බෙහෙත් පිළියම් කර කර එහිම අලසකමින් ලොකුකම් පපා කල්හරින කපුරාලලා ම ගණනින් වැඩෙති.

ශාලායෙහි වූ කිසි කෙනෙක් මාගර් දශර්ක ස්ථම්භයේ සටහන් උත්සාහයෙන් කියවා බලා, එය පිහිටුවාලූ ආදිම පුරුෂයාගේ අදහස අමාරුවෙන් තේරුම් ගෙන කණුවේ අත්සටහනින් දැක්වූ මාගර්යේ යන්ට ඉදිරිපත් වෙති. ඒ දුටු යාග හෝම කාරයෝ 'යාග හෝම නැමැති සිය යුතුකම් හැර දමා, සිය පරපුරත් නොසලකා මොහු කොහේ යත්ද? මොවුහු පිස්සෝය! නැතහොත් තක්කඩියැ'යි කියා බැන වදිති, නිග්‍රහ කරති.

වනයෙන් නික්ම ආ තවත් කෙනෙක් ස්තම්භයේ සඳහන් අදහස් තේරුම් ගෙන, හාත්පස යාග හෝම කරන්නන්ගේ ක්‍රියාවලට යටි සිතින් සිනාසී, එහි නොරඳා ක්ෂේම මාගර්ය ඔස්සේ යති. ව්‍යාජ මාගර් දේශකයෝ ඒ දැක 'ඔවුහු නිසි මඟ නොයන්නෝ ය. ඔවුන්ට පාර වරදී. ඔය යන්නාහු නිසි මඟ නොවෙති. නිසි මඟ යන්ට නම් අපේ සමාජයට බැඳී අප ලවා සමාජයේ මුද්‍රායෙන් පිට හංවඩු ගස්වා, අපේ අවසර පත්‍රය ගත යුතු යැ'යි යටිගිරියෙන් කෑ මොර ගසති. 'වැරදි පැත්ත බලා ගත්තෝ යැ'යි නිග්‍රහ කරති. ස්වකීය උපාය දැලට හසු වූවන්ට ඒ දෙසවත් බලන්ට නොදී රවටා ගනිති.

මෙහි මේ තාක් දැක්වුණේ යට කී මහා වනයේ අතීත වතර්මාන තත්ත්වයෙන් බිඳෙකි. එහි දුර අනාගතයට දැන් ඇස් යොමු කරමු. කුමක් පෙනේ ද? අතීතය කලින් සිහි කරවන දශර්නයෙක් පහළ වේ. ඒ ලුහුඬින් මෙසේයි:
එක් විධිමත් පුරුෂයෙක් වනයෙන් නික්මෙන්ට මඟක් සොයා වුත්, එය සොයාගෙන ගොස් ක්ෂේම භූමියට පැමිණ සුවපත්ව, පෙරළා අවුත් වන වාසීන්ට ක්ෂේම භූමියට පාර පෙන්වා එහි යන්ට කැඳවයි. බොහෝ දෙනෙක් ඒ මඟ යති. ඉහත කී කපුවරුන්ගේ සමාජය තවමත් පවතී. යට කී මහඟු කණුව කලක දී කඩා වැටුණ පසු එහි කැබලි නිදන් කොට කරවූ විශාල ස්ථූපයන් ද, තවත් එබඳු ම වූ නානාවිධ ගොඩනැගිලි ද ඉදිරියේ යාග හෝම කර කර 'මතු එන අසවලාගේ එක වචනයකින්ම මාගර්යේ යන්ට අපට පුළුවන් වේවා!'යි පත පතා විෂඵලත් කමින් ඒ කපුවරු මත්වෙමින් ඉඳිති. ඔවුහු මේ අභිනව වීර පුරුෂයා යට කී මඟට බසින්නන්ට යාග හෝම කිරීමත්, ඒ සමාජයේ ලකුණ හංවඩු ගැසීමත්, පඬුරු වෙන් කිරීම් ආදියත් දැන් දැන් පණවතැ යි, නියම කරතැ යි සිත සිතා සිටිත්. අන්තිමේදි එබන්දක් සිදුවනු නොදැක කුපිතව ඒ අභිනව මාගර්දේශකයාට ආමන්ත්‍රණය කොට 'මේ තාක් අප ලබන්නට පැතූ මාගර් දේශකයා ඔබ නම් අපේ සමාජය ගැන වත්, යාග හෝම ගැනවත්, හම්වඩු ගැසීමත් නොදක්වන්නේ මන්දැ'යි අසන්නාහ. මාගර් දේශක වීර තෙම 'එයින් ඵලක් නැත. ක්ෂේම භූමියට යාමට කැමැත්තහු තෙල පෙනෙන මඟින් යා යුතුයි. මෙහි නතර විය යුතු නොවේ යැ'යි කියයි.

එවිට යාග හෝම කාරයෝ එකහඬින් කෑ ගසා 'අහෝ! මේ සතුරෙකි. අප විසින් අපේක්ෂිත මාගර් දේශකයා මෙතෙම නොවේ. මේ තාක් අප රැක්ක පරම්පරාගත චාරිත්‍රවලට මෙතෙම පහර දෙයි. ඒ පැරැණි අපේ ආදිම මාගර් දේශක වීරයා නමින් කළ මේ ස්ථූප වලට, එතුමා පිහිටුවාලූ ස්ථම්භයේ කොටස් නිදන් කළ මේ ස්ථූප වලට, එතුමාගේ රූපයට ගෞරව කිරීම, පූජා සත්කාර කිරීම, යාග හෝම කිරීම අත්හරවන්ටත්, ඊට සැලකිල්ලක් නොදක්වන්ටත්, එතුමාගේ ගෝලබාලයන්ගේ සමාජයේ හංවඩුව නොසලකන්ටත් ජනයා පොළඹවන මෙතෙම අපේ සතුරෙකි. මොහුට පහර දෙමු. මොහුගේ වැරදි සොයමු. මොහුගේ මාගර්යේ වැරදි පෙන්වමු'යි කියා නිස්සාර කැළඹීමක් ආරම්භ කරන්නාහ. සමාජය තහවුරු කරමින් මතු එන මාගර් දේශකයකු පතන්නාහ.

එහෙත් ඔවුන්ට යාග හෝමාදිය කෙරේ ලොල් වූ නුවණින් අන්ධව ඉන්නා තෙක් මාගර් දේශකයෙකුගෙන් වත් මාගර්යෙන් වත් ප්‍රයෝජන නොලැබේ. (යථාතර්ය ඇති සැටියෙන් දකින්නන් ද) යථෝක්ත නානා සමාජවලට ඇතුළත් පිටත් සාමාජිකයන් අතුරෙහි සිටිත්. එහෙත් සත්‍යය හෙළිකරලීමට ඔවුහු බිය වෙති. කෙනෙක් ඒ කපුරාලවරු සමාජයෙන් තමන් තහනම් කොට එලවති යි ද, කෙනෙක් තමන්ට යසිසුරෙන් පිරිහෙන්ට වේ යැයි ද, කෙනෙක් යහළුවෝ අමනාප වෙතැයි ද, කෙනෙක් සතුරෝ වැඩිවෙතැයි ද, කෙනෙක් අධිපති කමින් ඒ කපුවරු තමා තල්ලු කර දමතැයි ද සිතා බියෙන් ඇති සැටි කීමට පසුබට වෙති.

මත් වෙමින් ද ඊෂර්යා ක්‍රෝධ මානාදියෙන් කරවෙමින් ද නොමඟ යන ඒ මූඪයන්ගේ කුලප්පුවට බිය නොවන්නෝත් කලාතුරෙකින් ඇති වෙති.

( ශ්‍රී බු.ව. 2474 ක්‍රි.ව. 1930 ස්වදේශ මිත්‍රයා වෙසක් අතිරේකයෙන් උපුටා ගැනුණි)

(උපුටා ගැනීම: මතුගම මහින්ද විජේතිලකයන්ගේ 'බලන්ගොඩ හාමුදුරුවෝ' පොතිනි)